0286



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

12 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Ord. Level) Examination, 2020

ශෛවනෙරි I, II
சைவநெறி I, II
Saivaneri I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ශෛවනෙරි I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

1. ඕනෑම කාර්යයක් ආරම්භ කිරීමට පෙර අප විසින් වන්දනා කළ යුතු දෙවියා වන්නේ,
   (1) සිවපෙරුමාන් ය. (2) මහා විෂ්ණු ය.
   (3) පිල්ලෙයාර් ය. (4) මුරුගන් ය.

2. 'වේදම්' යන වචනයේ අර්ථය වන්නේ,
   (1) දැනුමයි. (2) ගීතයයි. (3) සංගීතයයි. (4) මන්ත්‍රයයි.

3. පහත ඒවා අතුරෙන් ස්කාන්ද පුරාණයේ ඇතුළත් කොටසක් වන්නේ කුමක් ද?
   (1) විෂ්ණු සංගිදෛ (2) සංකර සංගිදෛ (3) කාසිබ සංගිදෛ (4) සුගස්තිය සංගිදෛ

4. කෙනෙකු 'සිවපුත්තිරන්' යන සුදුසුකමට රැගෙන යන තීක්ෂාව වන්නේ,
   (1) විශේඩ තීක්ෂාවයි. (2) සමය තීක්ෂාවයි. (3) නිර්වාණ තීක්ෂාවයි. (4) සාම්බව තීක්ෂාවයි.

5. ශෛව පරිපාලන සභාවේ ක්‍රියාකාරකම්වල වැදගත් පරිපාලන මධ්‍යස්ථානයක් වන්නේ,
   (1) හින්දු සමය පේරවෛ ය. (2) නාවලර් ආච්චිරමම් ය.
   (3) ඉලංගෛ හින්දුමාමන්ඩ්‍රම් ය. (4) සිවතොණ්ඩන් නිලෛයම් ය.

6. 'සූක්කුම පඥ්චාට්චරම්' යනු
   (1) සිවසිව වේ. (2) නමසිවාය වේ. (3) සිවායසිව වේ. (4) සිවායනම වේ.

7. 'වණ්ණාර්පණ්ණෛ' හි විසූ, ශෛව ආගමික විශ්වාසයක් සහිත වූ කාන්තාවක් විසින් ආරම්භ කරන ලද ආයතනය වන්නේ,
   (1) ශෛවප්‍රකාශ විත්තියාසාලෛ ය. (2) තිරුකේදීස්වර අරපනිමන්ඩ්‍රම් ය.
   (3) අම්බලවාණස්වාමි පුණ්ණියනාච්චි ධර්මම් ය. (4) සිවයෝගිනි අරකට්ටලෛ ය.

8. "නඩමාඩ කෝයිල් නම්පර්ක්කු ඔන්රු ඊයිල්..." යන ගීතය මඟින් මහජන සේවයේ විශිෂ්ටත්වය පෙන්වා දෙන්නේ කවුරුන් විසින් ද?
   (1) තිරුඥානසම්බන්දර් (2) තිරුමූලර්
   (3) තිරුනාවුක්කරසර් (4) අරුණගිරිනාදර්

9. තිරෞපහදෛ අම්මන් වන්දනාව හා සම්බන්ධ ජන වන්දනා ක්‍රමයක් වන්නේ,
   (1) දර්මර් පට්ටාබිශේගම් ය. (2) කුලිර්ත්තිච් සඩංගු ය.
   (3) කොම්බු මුරිත්තල් ය. (4) කන්නිමාර් පිඩිත්තල් ය.

[දෙවැනි පිටුව බලන්න.

**10.** "උරෙසාල් පත්තිනියෙ උයර්න්තෝර් ඊත්තුවර්" යනුවෙන් සඳහන් කරන ග්‍රන්ථය වන්නේ,
(1) මණිමේකලෛ ය. (2) තිරුවාසගම් ය. (3) තිරුමන්දිරම් ය. (4) සිලප්පදිගාරම් ය.

**11.** 'ජනනාද මංගලම්' ලෙස ප්‍රශංසා ලබන රාජධානිය වන්නේ,
(1) අනුරාධපුර වේ. (2) පොළොන්නරුව වේ.
(3) දඹදෙණිය වේ. (4) කෝට්ටේ වේ.

**12.** කොඩිමරම්, තිරෙසීලෛ, කයිරු යනාදිය සංකේතවලින් දැක්වෙනුයේ පිළිවෙළින්
(1) පදි, පසු, පාසම් ය. (2) ආණවම්, කන්මම්, මායෙ ය.
(3) අරම්, පොරුල්, ඉන්බම් ය. (4) නිලම්, නීර්, කාට්රු ය.

**13.** ශෛව සාරධර්ම ඇතුළත් කාණ්ඩය වන්නේ,
(1) දානය සහ රා පානය කිරීම වේ. (2) සමානත්වය සහ ලැජ්ජාව වේ.
(3) කරුණාව දැක්වීම සහ සත්‍යතාව වේ. (4) ආචාරධර්ම සහ අහිංසකත්වය වේ.

**14.** කැණීම් කිරීමේදී රත්නපුර දිස්ත්‍රික්කයේ ගල් ගුහාවකින් සොයාගත් ශෛව ආගමික සංකේත වනුයේ,
(1) ලිංගම් සහ වේලායුදම් ය.
(2) තිරිසූලම් සහ නාගපන්දම් ය.
(3) කාලෛ හැඩය සහ පාර්වතී පිළිමය ය.
(4) විනායගර් පිළිමය සහ නාගපන්දම් ය.

**15.** නවග්‍රහයන් අතුරෙන් ඡායා (සෙවනැලි) ග්‍රහයන් වන්නේ,
(1) ශනි සහ වියාලන් ය. (2) වෙල්ලි සහ රාහු ය.
(3) රාහු සහ කේතු ය. (4) කේතු සහ ශනි ය.

**16.** 'කෝකිල සංදේශය' යන සිංහල භාෂාවෙන් රචිත තුදු ග්‍රන්ථයේ ප්‍රශංසා කරනු ලබන දේවාලය වන්නේ,
(1) ඉණුවිල් කන්දසුවාමි දේවාලයයි.
(2) කෝක්කට්ටිචෝලෛ තාන්තෝන්ඩ්‍රීශ්වරම් දේවාලයයි.
(3) වට්‍රාපලෛ කණ්ණගි අම්මන් දේවාලයයි.
(4) පොන්නාලෛ වරදරාජ පෙරුමාල් දේවාලයයි.

**17.** ආර්ය චක්‍රවර්තී යුගයේ දී රචනා කරන ලද ශෛව ආගමික ග්‍රන්ථය වන්නේ,
(1) වන්නෛ වෛතියලිංග කුරවංඡි වේ. (2) සිවරාත්‍රී පුරාණම් වේ.
(3) තට්චින කෛලාස පුරාණම් වේ. (4) කල්වලෛ අන්දාදි වේ.

**18.** ස්වාමි විපුලානන්දර් විසින් මඩකලපුවේ කල්ලඩියේ පිහිටුවන ලද විද්‍යාලය වන්නේ,
(1) විවේකානන්ද විද්‍යාලයයි. (2) සිවානන්ද විද්‍යාලයයි.
(3) හින්දු විද්‍යාලයයි. (4) විපුලානන්ද විද්‍යාලයයි.

**19.** නායන්මාර් හැටතුන්දෙනා අතුරෙන් 'පූසලාර් නායනාර්' තුමා
(1) රජතුමාගේ ඉල්ලීම පරිදි දේවාලය ස්ථාපිත කළ කෙනෙකි.
(2) ජනතාවගේ කැමැත්ත පරිදි දේවාලය ස්ථාපිත කළ කෙනෙකි.
(3) බාහිර පෙනුම අනුව තමන්ගේ හිත තුළ දේවාලයක් නිර්මාණය කළ කෙනෙකි.
(4) දේවාලය ප්‍රතිසංස්කරණයේදී සක්‍රියව ක්‍රියා කළ කෙනෙකි.

**20.** ශෛව සිද්ධාන්ත ප්‍රතිපත්තිය අනුව ආත්මයේ අවසාන අරමුණ වන්නේ,
(1) සෙනෙහසින් එකතුවීම ය. (2) කර්මය අනුව ක්‍රියා කිරීම ය.
(3) තමා යන අදහසින් සිටීම ය. (4) විමුක්තිය ලැබීම ය.

**21.** තිරුකෝඩීශ්වර දේවාලය මත 'තේවාර තිරුපදිගම්' ගායනා කරන ලද නායන්මාර්වරුන් වන්නේ,
(1) සම්බන්දර් සහ සුන්දරර් ය. (2) අප්පර් සහ සුන්දරර් ය.
(3) සම්බන්දර් සහ අප්පර් ය. (4) සුන්දරර් සහ සේන්තනාර් ය.

**22.** 'සව්රමානම්' ලෙස හඳුන්වන කාලය ගණනය කිරීමේ ක්‍රමය,
(1) සඳ පදනම් වූවකි. (2) හිරු පදනම් වූවකි.
(3) තරු පදනම් වූවකි. (4) රාශි පදනම් වූවකි.

23. කොක්කට්ටිචෝලෙ තාන්තෝන්ද්‍රීශ්වරර් දේවාල මහෝත්සවයේදී 'කුඩුකෙ කුරුදල්' යන චාරිත්‍රය පවත්වන්නේ,
(1) උත්සවයට සහභාගී වූ සියලුදෙනාට ගරු කිරීමට ය.
(2) වැසි දිය සරු වීමට ය.
(3) දේවර්වරුන් සතුටු කිරීමට ය.
(4) උත්සව කාලයේදී සහයෝගය දැක්වූ සියලු දෙනාට ගරු කිරීමට ය.

24. ඥාණපිරහාස ස්වාමිතුමා ශ්‍රී ලංකාවේ සිට තමිල්නාඩුවට යාමට ප්‍රධාන හේතුව වූයේ,
(1) පෘතුගීසිවරුන් හින්දු දේවාලය විනාශ කිරීම ය.
(2) අන්‍යාගමිකවරුන් හින්දු බැතිමතුන්ව වෙනත් ආගම්වලට යොමු කිරීම ය.
(3) පෘතුගීසිවරුන් ගව ඝාතනය සිදු කිරීම ය.
(4) යුරෝපීයවරුන්ගේ දැඩි ආර්ථික ප්‍රත්පත්ති ය.

25. වේදම්හි කොටසක් වන 'ආරණියගම්' යනු,
(1) යාග පැවැත්වීමේදී කළ යුතු චාරිත්‍ර ක්‍රමය විස්තර කිරීමයි.
(2) වඩා ගැඹුරු ආධ්‍යාත්මික සත්‍ය විස්තර කිරීමයි.
(3) දෙවියන්ගෙන් මේ ආත්මයේ සහ ඊළඟ ආත්මයේ සතුට ඉල්ලා සිටින කොටසයි.
(4) චාරිත්‍ර සම්බන්ධව දාර්ශනික විස්තර රූපකාව්‍යවලින් පෙන්වා දීමයි.

26. ආගම්වල 'තන්තිරංගල්' යන්න අයත් වන්නේ,
(1) ශෛව ආගමට ය. (2) වෛෂ්ණව ආගමට ය.
(3) සාක්ත ආගමට ය. (4) කාණාපත්තිය ආගමට ය.

27. "මහා ආලෝකයක් වශයෙන් දෙවියන් හඳුනාගන්නා තෙක් ආත්මයට යන මාර්ගය මායෙ පෙන්වා දෙයි" යන්න පෙන්නුම් කරන ගී පදය කුමක් ද?
(1) "එවෙයුම් ඒග පොරුලාගි නිට්කුම් පොරුල්"
(2) "අගර උයිර් පෝල් අරිවාගි එංගුම්"
(3) "ඔරු පොරුලුම් කාට්ටාදිරුලුරුවම් කාට්ටුම්"
(4) "විඩිවාම් අළවුම් විළක්කු අනෙය"

28. ආලෝකය දෙන නිසා 'විභූති'වලට යොදන විශේෂ නාමය වනුයේ,
(1) පෂ්මම් ය. (2) තිරුනීරු ය. (3) පශිදම් ය. (4) ෂාරම් ය.

29. තිරුවදිගෙ අම්බලම්වල නැවතී සිට දේව සේවය කර විමුක්තිය ලැබූයේ,
(1) සෙම්බියන් මාදෙවියාර් ය. (2) කාරෙක්කාල් අම්මෙයාර් ය.
(3) මංගෛයර්කරසියාර් ය. (4) තිලගවදියාර් ය.

30. ශිෂ්‍ය අවධියේ සිටින්නකු ඉටු කළ යුතු වැදගත් යුතුකමක් වන්නේ,
(1) අන්‍යයන්ට ආදරය කර ගරු කරමින් ඔවුන් සමග සුහදව සිටීම ය.
(2) දෙමාපියන්, ගුරුවරුන් යන වැඩිහිටියන්ට අවනත වෙමින් විනයානුකූලව කටයුතු කිරීම ය.
(3) උත්සව සමයේදී දේවාලය තුළ එකමුතුව කටයුතු කිරීම ය.
(4) ගෙදරට පැමිණෙන ආරාධිත අමුත්තන්ට සත්කාර කිරීම ය.

31. "නායගනාර් මුන්නම් උරෛත්ත ආගමනූල්" ලෙස ආගම් පිළිබඳව විශේෂයෙන් සඳහන් වන්නේ,
(1) පෙරියපුරාණම් හි ය. (2) තිරුවාසගම් හි ය.
(3) තිරුමන්දිරම් හි ය. (4) තේවාරම් හි ය.

32. මූලමූර්ති ලෙස දර්ශනය වන ශිවලිංගම්, විනායග පෙරුමාන් වශයෙන් සලකා වන්දනා කරනු ලබන දේවාල දෙක වන්නේ,
(1) කොක්කට්ටිචෝලෙයි තාන්තෝන්ද්‍රීශ්වරර් සහ මාමාංග පිල්ලෙයාර් දේවාලයයි.
(2) මාමාන්ග පිල්ලෙයාර් දේවාලය සහ තිරුකේදීශ්වර දේවාලයයි.
(3) තිරුකේදීශ්වර දේවාලය සහ කලුදාවලෙ පිල්ලෙයාර් දේවාලයයි.
(4) කලුදාවලෙ පිල්ලෙයාර් දේවාලය සහ මාමාංග පිල්ලෙයාර් දේවාලයයි.

33. මණ්ඩූර් කන්දස්වාමි දේවාලයේදී කන්දශෂ්ටි උපවාසයේ නිරත වන අවස්ථාවේදී පුරාණපඩනම් සිදු කරන්නේ,
(1) කන්දපුරාණයට ය. (2) තිරුසෙන්දූර් පුරාණයට ය.
(3) තිරුවිලෛයාඩට් පුරාණයට ය. (4) තිරුකණිගෙ පුරාණයට ය.

**34.** ''අටියාර් නඩුවුලිරුක්කුම් අරුලෙල පුරියායි'' යන සංගම වන්දනාවේ විශිෂ්ඨත්වය ප්‍රකාශ කළේ,
(1) තිරුඥානසම්පන්දර් ය. (2) තිරුනාවුක්කරසර් ය.
(3) සුන්දරර් ය. (4) මාණික්කවාසගර් ය.

**35.** සමාජයට දේවාලයේ ඇති වැදගත්කම සම්බන්ධව අප්පර් ස්වාමිගේ ප්‍රකාශය කුමක් ද?
(1) ''තිරුක්කෝයිල් ඉල්ලාත් තිරුවිලූරුම්... ඌරල්ල අඩවික් කාඩේ''
(2) ''උල්ලම් පෙරුංකෝයිල් ඌනුඩම්බු ආලයම්''
(3) ''මාලර නේයමුම් මලින්දවර් වේඩමුම් ආලයන්තානුම්''
(4) ''ආලයන් තොලුවදු සාලවුම් නන්රු''

**36.** මහෝත්සව සමයේදී සිදු කරන 'ග්‍රාමශාන්ති' යන්න
(1) පාරවල් පිරිසිදු කිරීම සඳහා සිදුකරන්නකි.
(2) ශිවාචාරියාර් විසින් තමන්ට සහ උත්සවමූර්තීන්ට කාප්පු බැඳීමයි.
(3) ගම් ආරක්ෂා කිරීම සඳහා වෛරව මූර්තිට කරන පූජාවකි.
(4) ලෝකයේ ධාන්‍ය වර්ධනය සඳහා පිරිසිදු පස් රැගෙන සිදුකරන පූජාවකි.

**37.** ආරුමුග නාවලර් හා සම්බන්ධ වඩාත් නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) කොලරා වසංගතය නිසා කතෝලික ජනතාව මියයාම පිළිබඳව කණගාටු වෙමින්, ඒ පිළිබඳව රජයට පැමිණිලි යොමු කළ කෙනෙකි.
(2) සර්වාගමික සමුළුවේදී ශෛව ආගමික ගරුත්වය පෙන්නුම් කළ කෙනෙකි.
(3) ධර්මපුර ආදීනම් මගින් 'නාවලර්' යන උපාධිය පිරිණමා ගෞරවයට පාත්‍ර වූ කෙනෙකි.
(4) ශෛව විත්තියා විරුත්ති සංගම්හි නිර්මානතෘවරුන්ගෙන් කෙනෙකි.

- පහත සඳහන් වගුවේ A සිට I දක්වා දී ඇති තොරතුරු ආශ්‍රයෙන් අංක **38** සිට **40** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| ග්‍රන්ථය | කතෘ | ග්‍රන්ථයේ අන්තර්ගතය |
|---|---|---|
| A – පෙරිය පුරාණම් | D – කුමරකුරුබරර් | G – ශෛව සිද්ධාන්ත සත්‍ය තොරතුරු කතා අනුසාරයෙන් ඉගැන්වෙයි. |
| B – කන්ද පුරාණම් | E – සේක්කිලාර් | H – අධ්‍යාපන සහ භාෂා හැකියා වැඩිවීමට ආශිර්වාද කරයි. |
| C – ශකලකලාවල්ලිමාලෙ | F – කච්චියප්ප සිවාචාරියාර් | I – පුණ්‍ය කටයුතුවල යෙදීමේ විශිෂ්ඨත්වය විස්තර කරයි. |

**38.** තිරුත්තොණ්ඩර් පුරාණය හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) A, D, G (2) A, E, I (3) B, D, G (4) B, E, I

**39.** කලෛමගල් හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) C, D, G (2) C, D, H (3) C, D, I (4) C, F, H

**40.** මුරුගන් දෙවියන් හා සම්බන්ධ කාණ්ඩය කුමක් ද?
(1) A, D, H (2) A, F, G (3) B, F, G (4) B, F, I

* *

**12 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2020
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2020
General Certificate of Education (Ord. Level) Examination, 2020

ශෛවනෙරි I, II
சைவநெறி I, II
Saivaneri I, II

## ශෛවනෙරි II

* **පළමුවන** ප්‍රශ්නය හා **දෙවන** ප්‍රශ්නය ඇතුළු ව, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, අනෙකුත් සෑම ප්‍රශ්නයක් සඳහා ම ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

(i) තියානම්හි වර්ග **දෙකක්** සඳහන් කරන්න.

(ii) දීපාවලි උත්සවය සැමරීමේ ප්‍රධාන අරමුණ කුමක් ද?

(iii) අරුණගිරිනාදර් විසින් රචනා කරන ලද භක්ති ග්‍රන්ථ **දෙකක්** සඳහන් කරන්න.

(iv) නිත්තිය අන්නදානම් දෙන යාපනයේ පිහිටි දේවාල **දෙකක්** නම් කරන්න.

(v) ශිව ආගමංගල් සඳහන් කරන පිළිවෙත් වර්ග **තුන** සඳහන් කරන්න.

(vi) රාජරාජ සෝලන් විසින් ශ්‍රී ලංකාවේ උතුරුමැද පළාතේ පිහිටි 'පදවිය' නම් ස්ථානයේ නිර්මාණය කළ දේවාලයේ නම කුමක් ද?

(vii) පොළොන්නරුව යුගයේ බෞද්ධ රජවරුන් හින්දු ආගමට අනුග්‍රහය දැක්වූ බවට සාක්ෂි **දෙකක්** දක්වන්න.

(viii) නවවෙනි තිරුමුරයේ ඇතුළත් වන ග්‍රන්ථ මොනවා ද?

(ix) ලන්දේසි යුගයේදී ශ්‍රී ලංකාවේ ප්‍රකට වුණු හින්දු දේවාලවල විශිෂ්ටත්වය දක්වන ග්‍රන්ථ **දෙකක්** සඳහන් කරන්න.

(x) තිරුවරංග පෙරුමාන්ගේ ලස්සන, තොණ්ඩරඩි පොඩියාල්වාර් විසින් වර්ණනා කළේ කෙසේ ද?

**2.** (i) පහත සඳහන් ගීතිකා **දෙකක්** නිවැරදිව හා නියම අනුපිළිවෙළට ලියන්න.

(අ) "නාම් ආර්ක්කුම් කුඩියල්ලෝම්..."

(ආ) "පාල් නිනෛන්දු ඌට්ටුම්..."

(ඉ) "අන්ගමුම් වේදමුම් ඕදු නාවර්..."

(ඊ) "පූදම් අයින්දුම් නිලෛයිට් කලංගිනුම්..."

(උ) "සින්දිකිලේන් තින්රු සේවිකිලේන්..."

(ii) ඉහත (i)ට අදාළ ව ඔබ විසින් ලියන ලද ගීතිකාවල තේරුම ලියන්න.

**3.** "තිල්ලෛ වාල් අන්දණර්තම් අඩියාර්කුම් අඩියේන්"

– සුන්දරර්

(i) සුන්දරර්ගේ වෙනත් නම් **දෙකක්** සඳහන් කරන්න.

(ii) දෙවියන් සුන්දරර්ට බාධා කර ආශිර්වාද කිරීමට (තඩුත්තාඩ්කොල්ලල්) හේතුව පැහැදිලි කරන්න.

(iii) සුන්දරර් විසින් සිදු කළ හාස්කම් **පහ** කෙටියෙන් පැහැදිලි කරන්න.

**4.** "වාගෛසේර් අරිත්තවිසින්මේල් වදනම් මුවිරණ්ඩු උළ්ල
ඒගනායගන් උලගු අරුල් කරුණෛයෝඩු ඉනිදු උට්ට්‍රාන්"

– කන්දපුරාණම්

(i) කච්චියප්ප ශිවාචාරියාර්ගේ විශිෂ්ඨ ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.

(ii) කන්දපුරාණයේ ඇතුළත් කාණ්ඩ **හය** සඳහන් කරන්න.

(iii) කන්දපුරාණම් යුත්ත කාණ්ඩයේ මීට්චිපඩලම්හි සඳහන් වන තොරතුරු කෙටියෙන් පැහැදිලි කරන්න.

[හයවැනි පිටුව බලන්න.

5. "අරුවු මුරුවු මරිඥර්ක් කරිවා
මුරුවු මුඩෙයා නුලන්"
– තිරුවරුට්පයන්

(i) පදිගේ තිරුමේනි වර්ග **තුන** දක්වන්න.

(ii) පදි විසින් තිරුමේනි වර්ග **තුන** පෙන්නුම් කිරීමට හේතුව පැහැදිලි කරන්න.

(iii) පදිගේ ලක්ෂණ **දෙක** කෙටියෙන් පැහැදිලි කරන්න.

6. "හින්දු ආගමේ පවතින වන්දනා ක්‍රමය අතුරෙන් නාට්ටාර් වන්දනා ක්‍රමය විශේෂ වේ."

(i) 'සඩංගු' යන පදයේ අර්ථය කෙටියෙන් ලියා දක්වන්න.

(ii) නාට්ටාර් වන්දනා ක්‍රමය තුළ ඇතුළත් 'අලංකාර කලෙ' සම්බන්ධව කෙටියෙන් විස්තර කරන්න.

(iii) නාට්ටාර් වන්දනාවේ 'වෛරවර් වලිබාඩු' ලබන වැදගත්කම කෙටියෙන් පැහැදිලි කරන්න.

7. පහත සඳහන් මාතෘකාවලින් **දෙකක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) තිරුකේදීශ්වර දේවාලය

(ii) අබරකිරියෛගල්

(iii) එදිනෙදා ජීවිතයේදී දෙවියන් පිළිබඳ සිතුවිලි

(iv) නාගතම්බිරාන් වන්දනාව

❊ ❊ ❊